ET/SSS/2022(2023)/OL/33/S/Q/S-1

අධ්‍යාපන අමාත්‍යාංශය
கல்வி அமைச்சு
Ministry of Education

G. C. E. Ordinary Level | අ. පො. ස. සාමාන්‍ය පෙළ | 2022 (2023)

# Student Seminar Series

# ශිෂ්‍ය සම්මන්ත්‍රණ මාලාව

Practice Paper | උපකාරක ප්‍රශ්න පත්‍ර

# History

# ඉතිහාසය



**Question Paper - I, II | ප්‍රශ්න පත්‍රය - I, II (සිංහල මාධ්‍යය)**

Nenasa

The National e-learning Portal for The General Education

දූරස්ථ අධ්‍යාපන ප්‍රවර්ධන ශාඛාව | ජාතික භාෂා හා මානව ශාස්ත්‍ර ශාඛාව

අධ්‍යාපන අමාත්‍යාංශය
கல்வி அமைச்சு
**Ministry of Education, Sri Lanka**

| 33 | S | I, II |
|---|---|---|

**අ. පො. ස. සාමාන්‍ය පෙළ විභාගය - උපකාරක සම්මන්ත්‍රණ මාලාව - 2022 (2023)**
**கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை- ஆதரவு கருத்தரங்கு தொடர் - 2022 (2023)**
**G. C. E. Ordinary Level Examination - Support Seminar Series - 2022 (2023)**

| | |
|---|---|
| ඉතිහාසය | I, II |
| வரலாறு | I, II |
| History | I, II |

*පැය තුනයි.*
*மூன்று மணித்தியாலம்*
*Three Hours*

| | |
|---|---|
| අමතර කියවීම් කාලය | - මිනිත්තු 10 යි. |
| மேலதிக வாசிப்பு நேரம் | - 10 நிமிடங்கள் |
| Additional Reading Time | – 10 minutes |

අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරාගැනීමටත් පිළිතුරු ලිවීමේ දී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදා ගන්න.

## ඉතිහාසය I

**සැලකිය යුතුයි:**

- **සියලු ම ප්‍රශ්න වලට පිළිතුරු සපයන්න.**
- **අංක 1 සිට 40 තෙක් ප්‍රශ්න වල, දී ඇති (1), (2), (3), (4) යන පිළිතුරු වලින් නිවැරදි හෝ වඩාත් සුදුසු පිළිතුර තෝරාගන්න.**
- **ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන්, ඔබ තෝරා ගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ ( X ) ලකුණ යොදන්න.**
- **එම පිළිතුරු පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.**

1. **ලංකාවේ භාවිත වූ පැරණි තම කාසි වර්ගය වන්නේ මින් කුමක් ද?**
   **(1) ඇතා හා ස්වස්තිකය (2) ගජලක්ෂ්මී (3) පුරාණ (4) මස්ස**

2. **කිසි විටෙක ලංකාවට නොපැමිණ ලංකාව පිළිබඳ තොරතුරු වාර්තා කළ කතුවරයෙකු වන්නේ,**
   **(1) මෙගස්තිනිස් ය. (2) ෆාහියන් හිමි ය. (3) රිබෙයිරෝ ය. (4) පිලිප්පස් බැල්දියස් ය.**

3. **ප්‍රාග් ඓතිහාසික මානවයා ජීවත් වූ තෙත් කලාපීය එළිමහන් වාසස්ථානයක් වන්නේ ,**
   **(1) මිනිහාගල්කන්ද ය. (2) පොතාන ය. (3) මඩොල්සිම ය. (4) බෙල්ලන්බැඳිපැලැස්ස ය.**

4. **දකුණු ආසියානු කලාපය කෘෂිකර්මාන්තයට උචිත ලෙස දේශගුණ විපර්යාසයකට ලක් වූ අවධිය කුමක් ද?**
   **(1) ප්ලයිස්ටොසීන යුගය (2) මෙගලිතික යුගය (3) හොලෝසීන යුගය (4) මුල් ඓතිහාසික යුගය**

- **පහත දැක්වෙන ඓතිහාසික සිදුවීම් ඇසුරෙන් 5 සහ 6 ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.**

  **A. – ප්‍රාදේශීය පාලකයින් කිහිපදෙනෙකු හා සටන් කර ඒ ප්‍රදේශවල බලය තහවුරු කරගනිමින් පළමු වරට ලංකාවේ විශාල ප්‍රදේශයක බලය අත්පත් කර ගැනීම.**
  **B. – ශ්‍රී මහා බෝධි රෝපණ උත්සවයට කතරගම හා චන්ද්‍රනගාමයේ ක්ෂත්‍රියන්ට ආරාධනා කිරීම.**
  **C. – කාලිංග මාඝ පරාජයට පත් කිරීම.**
  **D. – දිවයිනේ ග්‍රාම සීමා ලකුණු කිරීම.**
  **E. – කව්සිළුමිණ රචනා කිරීම.**

5. **පණ්ඩුකාභය රජතුමා සම්බන්ධ සිදුවීම් දැක්වෙන පිළිතුර කුමක් ද?**
   **(1) A හා B (2) A හා D (3) B හා D (4) C හා E**

6. දෙවන පැරකුම් රජතුමා සම්බන්ධ තොරතුරු පමණක් දැක්වෙන පිළිතුර කුමක් ද?

(1) A හා B (2) A හා C (3) C හා E (4) B හා D

7. පැරණි සාහිත්‍ය ග්‍රන්ථවල සඳහන්වන පරිදි, ධනයට අධිපති දෙවියන් වූ කුවේරයන් මෙන් පෙනී සිටිමට උත්සාහ කළ කාශ්‍යප රජතුමා තම වාසභවන ලෙස තෝරාගත් ස්ථානය හැඳින් වූ නම කුමක් ද?

(1) ආලකමන්දාව (2) සීගිරිය (3) ගිරි දිවයින (4) ගඟසිරිපුර

8. වසභ රජුට පසුව වංකනාසිකතිස්ස රජුට රාජ්‍ය උරුමය හිමි වූයේ,

(1) මව් උරුමයෙනි. (2) පිය උරුමයෙනි. (3) රාජ්‍ය පැහැර ගැනීමෙනි. (4) නායක්කර් සම්ප්‍රදායෙනි.

9. මුතුගල්ල නම් ස්ථානයෙන් හමු වූ සෙල්ලිපියට අනුව මජ්ජිම යනුවෙන් හැඳින්වූයේ කුමන වෘත්තිකයෙක් ද?

(1) කම්මල්කරුවෙකි (2) ගොවියෙකි (3) ධීවරයෙකි (4) වෙළෙන්දෙකි

10. පැරණි සෙල්ලිපිවල දැකිය හැකි වටාපත් සළකුනෙන් සන්නිවේදනය කිරිමට අදහස් කළා වූ පණිවිඩය විය හැක්කේ,

(1) විහාරස්ථානයකට ලබා දුන් දීමනාවක් බවකි.
(2) රජු විසින් ලබාදුන් දීමනාවක් බවකි.
(3) දීමනාවේ පවිත්‍රත්වයයි.
(4) දීමනාවට බාධා නොකළ යුතු බවකි.

11. ආරක්ෂාව, කලාත්මක බව, හා ජල තාක්ෂණ භාවිතය අතින් විශිෂ්ටත ම නිර්මාණයක් ලෙස අගය කළ හැකි නිර්මාණයක් වන්නේ,

(1) කුට්ටම් පොකුණ. (2) නෙළුම් පොකුණ. (3) වටදාගෙය. (4) සීගිරිය.

12. වැවක දැකිය හැකි මොහොළ හෙවත් දියකැට පහන යන නිර්මාණයයෙන් ඉටුකරගත් කාර්ය සම්බන්ධයෙන් වඩාත් නිවැරදි ප්‍රකාශය විය හැක්කේ,
(1) වැවට ලැබෙන අතිරික්ත ජලය පාලනය කිරීම.
(2) ප්‍රයෝජනය සඳහා වැවෙන් ජලය පිටතට ලබාගැනීම.
(3) වැවේ ජලය මගින් ඇති කරන පීඩනයෙන් වැව් බැම්ම ආරක්ෂා කිරිම
(4) සොරොව්ව මගින් පිටකරන ජල ප්‍රමාණය පාලනය කිරීම.

- පහත තොරතුරු ඇසුරෙන් 13 සහ 14 ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

A. - වෙර පහර හෙවත් පීඩන ශල්කනය යොදා ගැනීම
B. - ජල පීඩනය ඇතිවන ස්ථානයට ඉහළ ගල් පුවරුවේ සිදුරෙහි විෂ්කම්භය වෙනස් කරමින් ජල කඳෙහි උස වෙනස් කිරීම
C. - කුඩා ජ්‍යාමිතික හැඩ භාවිතය
D. - උසක සිට ගලා එන ජල මාර්ගයක් හරස් කර එක්වරම පීඩනයක් ඇති කිරීම
E. - ජල මාර්ගය හරස් කළ ස්ථානයේ රැස්වන ජලය ඇළ මාර්ග මගින් පහත් බිමකට රැගෙන යාම.

13. ප්‍රාග් ඓතිහාසික යුගයේ තාක්ෂණය සම්බන්ධයෙන් වඩාත් නිවැරදි පිළිතුර කුමක් ද?
(1) A හා C (2) A හා D (3) B හා D (4) C හා E

14. ශ්‍රී ලංකාවේ ජල මල් තාක්ෂණය සම්බන්ධයෙන් නිවැරදි තොරතුරු සඳහන් පිළිතුරු කාණ්ඩය කුමක් ද?

(1) A හා B (2) A හා D (3) B හා D (4) C හා E

15. පැරණි රජදරුවන් විවිධ අවස්ථාවන්හි දී විවිධාකාර දඬුවම් ක්‍රම සමාජ ගත කර ඇත. ඒ සම්බන්ධයෙන් **සාවද්‍ය** ප්‍රකාශය විය හැක්කේ මින් කුමක් ද?

(1) දඬුවම ලබාදීමේ එකම අරමුණ වන්නේ වරද කළ පුද්ගලයාට එරෙහිව දණ්ඩනය ක්‍රියාත්මක කිරීමයි
(2) පුද්ගලයන් නිවැරදි මාර්ගයට අනුගත කිරීමට යොදා ගත හැකි ක්‍රියා මාර්ගයකි
(3) දඬුවම ආදර්ශයට ගෙන වරදට නොපෙළඹිය යුතු බව අවධාරණය කරයි
(4) දඬුවම් මගින් ලබාගන්නා දඩ මුදල් රටේ ආර්ථික සංවර්ධනයට යොදා ගත හැකිය

16. ලෝකෝපාකාර කතුවරයා කැල මලකට සමාන කර ඇත්තේ කවුරුන් විය හැකි ද?
(1) දුසිල්වත් අය
(2) රූප සම්පත්තියෙන් උසස් පුද්ගලයන්
(3) යෞවන ගුණය හා ඥානයෙන් යුක්ත වුවත් ශිල්ප ශාස්ත්‍ර නොදත් අය
(4) ශිල්ප ශාස්ත්‍රයන් මැනවින් ප්‍රගුණ කළ අය

- පහත වගුවේ A සිට F දක්වා තොරතුරු ඇසුරෙන් 17 හා 18 ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

| පාලකයා | සිදුවීම | අනුප්‍රාප්තික පාලකයා |
|---|---|---|
| A - දෙවන පැරකුම් රජතුමා | C - දඹදෙණිය දළදා මාළිගය කරවීම | E - පණ්ඩිත පරාක්‍රමබාහු රජතුමා |
| B - හය වන බුවනෙකබාහු රජතුමා | D - සිංහල සංගෙ | F - සිව් වන විජයබාහු රජතුමා |

17. දඹදෙණිය රාජධානිය සම්බන්ධ තොරතුරු පමණක් දැක්වෙන පිළිතුර කුමක් ද?

(1) A , C හා B (2) A , C හා F (3) B , C හා E (4) B, D හා E

18. කෝට්ටේ රාජධානිය සම්බන්ධ තොරතුරු පමණක් දැක්වෙන පිළිතුර කුමක් ද?

(1) A , C හා F (2) B , D හා E (3) B , C හා E (4) C, D හා E

19. උඩරට සිංහල රාජ වංසය අවසන් වීම කෙරෙහි බලපෑ ප්‍රධානතම හේතුව වන්නේ කුමක් ද?

(1) ඉංග්‍රීසින් විසින් උඩරට රාජධානිය අල්ලා ගැනීම යි
(2) උඩරට රදළවරුන් නායක්කර් වංශිකයන්ට හිතවත්ව කටයුතු කිරීමයි
(3) විජය රාජසිංහ රජු උපක්‍රමශීලී ව රාජ්‍ය පැහැර ගැනීමයි
(4) නරේන්ද්‍රසිංහ රජු රාජ්‍ය උරුමකරුවෙකු නොලබා මිය යාමයි

20. මහනුවර යුගයේ දී රාජ්‍ය සේවයේ නියුතු රදළ ප්‍රධානීන් හට පාරම්පරිකව භුක්ති විඳීම සඳහා ප්‍රදානය කළ ඉඩම් හඳුන්වනේනේ කෙසේ ද?

(1) ගබඩාගම් (2) නින්දගම් (3) විහාරගම් (4) පරවේණිගම්

21. උඩරට රාජධානියේ පරිපාලන සංවිධානයට අයත් බද්දේ සංවිධාන කිහිපයක් I තීරුවේ ද, ඒවාට අයත් කාර්යයන් II තිරුවේ ද දක්වා ඇත. පළමු තීරුව අනුව දෙවන තීරුව ගැපූ විට නිවැරදි පිළිතුර කුමක් ද?

| I තීරුව | II තීරුව |
|---|---|
| (1) මඩිගෙ බද්ද | A. - රෙදි විවීම |
| (2) බඩහැල බද්ද | B. - රෙදි සේදීම |
| (3) රදා බද්ද | C. - ප්‍රවාහන කටයුතු |
| (4) හැද බද්ද | D. - වළං තැනීම |

(1) A , B , C, D (2) C , B , D , A (3) B , C , A, D (4) C , D , B , A

22. පෘතුගීසින්ට විරුද්ධ සටන්වල දී මුස්ලිම් සැමොරින් පාලකයාගේ සහය ලබාගත් පාලකයා කවුරුන් ද?

(1) වීදිය බණ්ඩාර (2) මායාදුන්නේ (3) හත්වන බුවනෙකබාහු (4) ධර්මපාල

- පහත A, B C හා Dවලින් දැක්වෙන ප්‍රකාශ/පද යුගල අධ්‍යයනය කර 23 සිට 26 තෙක් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

A – 1. දෙවන ලෝක සංග්‍රාමය
2. බිස්මාර්ක් ප්‍රතිපත්තිය

B – 1. ජාතීන්ගේ සංගමය
2. රටවල් අතර ඇතිවන වාද භේද සාමකාමීව විසඳීම

C - 1 .නට්සිවාදය
2. ජර්මන් ජාතිය උසස්කොට සලකා යුදෙව්වන් හෙලා දැකීම

4

D - 1. පෞද්ගලික ඉඩම් අයිතිය අහෝසි කිරීම
2. රුසියන් විප්ලවය

23. දෙවැන්න මඟින් පළමුවැන්න විස්තර කරන පද යුගලය කුමක් ද ?

(1) A ය. (2) B ය. (3) C ය. (4) D ය.

24. පළමුවැන්න දෙවැන්නේ ප්‍රතිඵලයක් බව හැඟවෙන පද යුගලය කුමක් ද?

(1) A ය. (2) B ය. (3) C ය. (4) D ය.

25. පළමුවැන්න හා දෙවැන්න අතර කිසිදු සබඳතාවයක් නොදක්වන පද යුගලය කුමක් ද?

(1) A ය. (2) B ය. (3) C ය. (4) D ය.

26. පළමුවැන්නේ කාර්යයක් දෙවැන්න මඟින් දැක්වෙන පද යුගලය කුමක් ද?

(1) A ය. (2) B ය. (3) C ය. (4) D ය.

27. කාර්මික විප්ලවය අවධියේ ස්ථාන දෙකක් අතර කම්බියක් යොදාගනිමින් සංකේත මගින් තොරතුරු හුවමාරු කිරීමට යොදාගත් ක්‍රමය කුමක් ද?

(1) දුරකථනය. (2) ගුවන්විදුලිය. (3) .විදුලි පණිවිඩ ක්‍රමය (4) පෙනී සේවය

28. පහත සිදුවීම් අතරින් කාර්මික විප්ලවය අවධියේ දී මානව සංහතියේ දීර්ඝ කාලීන පැවැත්මට ප්‍රබල තර්ජනයක් එල්ල කළ සිදුවීම කුමක් ද?

(1) ආනයන අපනයන ආර්ථිකය
(2) බහුජාතික සමාගම් ආරම්භ වීම
(3) පරිසර දූෂණය
(4) රාජ්‍ය නිර්බාධවාදය ඇතිවීම

29. පහත සඳහන් සිදුවීම් ඇසුරෙන් උඩරට රාජධානිය ඉංග්‍රීසින්ට යටත්වීම කෙරෙහි බලපෑ ශ්‍රී වික්‍රම රාජසිංහ රජුගේ ක්‍රියා කලාපයන් පමණක් දැක්වෙන පිළිතුර කුමක් ද?

A. - ඉංග්‍රීසීන්ගේ උපක්‍රමශීලී ක්‍රියා
B. - රජු හා භික්ෂූන් වහන්සේලා අතර තිබූ සබඳතාවය බිඳ වැටීම
C. - ඇහැලේපොළ දරු පවුල අමානුෂික ලෙස ඝාතනය කිරීම
D. - ඉංග්‍රීසීන්ගේ උඩරට ආක්‍රමණයත් සමඟ රජු ආරක්ෂාවට පලායාම

(1) A හා B ය. (2) B හා C ය. (3) C හා D ය. (4) D හා A ය.

30. ශ්‍රී ලංකාවේ ආගමික ජාතික පුනරුද ව්‍යාපාරයේ දී හෙන්රි ස්ටීල් ඕල්කොට් තුමාගේ දායකත්වය සම්බන්ධයෙන් **නොගැළපෙන** ප්‍රකාශය කුමක් ද?

(1) පාසල් ආරම්භ කිරීම සඳහා මහාබෝධි සමාගම පිහිටුවීම
(2) බෞද්ධ පාසල් පිහිටුවීමට පුරෝගාමී ව කටයුතු කිරීම
(3) රටපුරා යමින් දේශන පවත්වා බෞද්ධයන් අවදිකිරීම
(4) වෙසක් පොහොය දිනය රජයේ නිවාඩු දිනයක් බවට පත් කිරීමට වෙහෙස වීම

31. පහත A සිට D දක්වා දී ඇති ප්‍රකාශ ඇසුරෙන් ආරුමුග නාවලර් තුමා සම්බන්ධ සිදුවීම් පමණක් සඳහන් පිළිතුර කුමක් ද?

A. - මද්‍රාසා පාසල් ප්‍රතිසංවිධානය
B. - පෙරිය පුරාණම් , ස්කන්ද පුරාණම් ග්‍රන්ථ පරිවර්තනය කිරීම
C. - යාපනයේ ශිවංගල විද්‍යාලය ආරම්භ කිරීම
D. - සිංහල පරාභවය නාට්‍ය රචනා කිරීම

(1) A හා B ය. (2) B හා C ය. (3) C හා D ය. (4) D හා A ය.

32. ශ්‍රී ලංකාවේ කෘෂිකාර්මික කටයුතු සම්බන්ධයෙන් **සාවද්‍ය** ප්‍රකාශය කුමක් ද?

(1) සාම්ප්‍රදායික කෘෂිකර්මය පරිභෝජනය පදනම් කරගත සිදුවිය
(2) කෘෂිකාර්මික කටයුතු සඳහා අවශ්‍ය කරන ශ්‍රමය අත්තම් ක්‍රමය හරහා සපුරාගන්නා ලදි
(3) පෘතුගීසීන් විසින් මුලින්ම ලංකාවට වතු වගාව හඳුන්වා දෙන ලදි
(4) ලංකාවට තේ වගාව හඳුන්වා දෙනු ලැබුවේ ඉංග්‍රීසින් විසිනි

33. ශ්‍රී ලංකාවේ පළමු ජනාධිපති වරයා වන්නේ,

(1) ජේ . ආර් .ජයවර්ධන මහතා ය. (2) ශ්‍රීමත් ඔලිවර් ගුණතිලක මහතා ය.
(3) ඩී.එස්.සේනානායක මහතා ය. (4) ශ්‍රීමත් විලියම් ගොපල්ලව මහතා ය.

34. 1978 දෙවන ජනරජ ව්‍යවස්ථාව මගින් හඳුන්වා දුන් ප්‍රතිසංස්කරණයක් දැක්වෙන පිළිතුර කුමක් ද?

(1) මෙරට “ ලංකාව ”යන නාමයෙන් හැඳින්වීම. (2) මුල්වරට ලංකාව ඒකීය ජනරජයක් බවට පිළිගැනීම.
(3) සමානුපාතික නියෝජන ක්‍රමය හඳුන්වා දීම. (4) විධායක කාරකසභා ක්‍රමය හඳුන්වා දීම.

35. දොස්තර එස්.ඒ.වික්‍රමසිංහ මහතා විසින් නිර්මාණය කරන ලද දේශපාලන පක්ෂය කුමක් ද?

(1) ලංකා සම සමාජ පක්ෂය . (2) විප්ලවවාදී සම සමාජ පක්ෂය.
(3) ලංකා පෙඩරල් පක්ෂය. (4) ලංකා කොමියුනිට්ස් පක්ෂය.

36. ශ්‍රී ලංකාවේ පරිපාලනය සම්බන්ධයෙන් නීති පැනවීම, මුදල් පරිපාලනය, අය වැය සකස් කිරීම වැනි කාර්යයන් භාර ආයතනය කුමක් ද?

(1) ජනාධිපති කාර්යාලය (2) පාර්ලිමේන්තුව (3) කැබිනට් මණ්ඩලය (4) ශ්‍රේෂ්ඨාධිකරණය

- පහත A,B,C හා D යටතේ දැක්වෙනුයේ නිදහසින් පසු ලංකාවේ සංවර්ධනය උදෙසා රජයන් ගත් ක්‍රියාමාර්ග කිහිපයකි. ඒ ඇසුරෙන් 37 හා 38 ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

A. ආයත ආදේශක ප්‍රතිපත්තිය.
B. ග්‍රාමීය ප්‍රදේශවල අධ්‍යාපන කටයුතු දියුණු කිරීම.
C. ප්‍රමිති කාර්යාංශය පිහිටුවීම.
D. රැකී රක්ෂා ලබා දීම සඳහා තරග විභාග ක්‍රමය හඳුන්වා දීම.

37. ශ්‍රී ලංකාවේ සමාජ ශුභසාධනය උදෙසා ගත් ක්‍රියාමාර්ග පමණක් දැක්වෙන පිළිතුර කුමක් ද?

(1) A හා B ය. (2) B හා C ය. (3) B හා D ය. (4) C හා D ය.

38. ශ්‍රී ලංකාවේ කාර්මීකරණ ප්‍රත්පත්තිය සම්බන්ධයෙන් නිවැරදි තොරතුරු ඇතුළත් පිළිතුර කුමක් ද?

(1) A හා C ය. (2) B හා C ය. (3) B හා D ය. (4) B හා A ය.

39. සාමය, ඉඩම් , හා ආහාර යන්න, සටන් පාඨය කරගත් ලෝකයේ කැපී පෙනුන විප්ලවය කුමක් ද ?

(1) කාර්මික විප්ලවය. (2) ඇමරිකන් නිදහස් යටන.
(3) ප්‍රංශ විප්ලවය. (4) රුසියන් විප්ලවය.

40. දෙවන ලෝක මහා සංග්‍රාමය ආරම්භ වීමට බලපෑ ආසන්නත ම සිදුවීම කුමක් ද?
(1) සරයේවෝ සිදුවීම (2) ඔස්ට්‍රියාව සර්බියාවට යුධ ප්‍රකාශ කිරීම
(3) ජර්මනිය විසින් පෝලන්තය ආක්‍රමණය කිරීම (4) ජපානය විසින් පර්ල් වරායට පහර දීම

*****

අධ්‍යාපන අමාත්‍යාංශය
கல்வி அமைச்சு
Ministry of Education, Sri Lanka

| 33 | S | II |
|---|---|---|

අ. පො. ස. සාමාන්‍ය පෙළ විභාගය - උපකාරක සම්මන්ත්‍රණ මාලාව - 2022 (2023)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை- ஆதரவு கருத்தரங்கு தொடர்- 2022 (2023)
G. C. E. Ordinary Level Examination - Support Seminar Series - 2022 (2023)

| | |
|---|---|
| ඉතිහාසය | I, II |
| வரலாறு | I, II |
| History | I, II |

ඉතිහාසය II

- I කොටසේ ප්‍රශ්න අංක **1 අනිවාර්ය** වේ.
- II කොටසින් ප්‍රශ්න **හතරකට** ද, III කොටසින් ප්‍රශ්න **එකකට** ද පිළිතුරු සපයන්න.
- පිළිතුරු සැපයිය යුතු මුළු ප්‍රශ්න සංඛ්‍යාව හයකි.

## I කොටස

**01.** (අ) පහත (i) යටතේ දක්වා ඇති ඓතිහාසික ස්ථාන සියල්ල ම **සපයා** ඇති ශ්‍රී ලංකා සිතියමෙහි ද, (ii) යටතේ දක්වා ඇති ඓතිහාසික ස්ථාන සියල්ලම සපයා ඇති ලෝක සිතියම් කොටසෙහි ද ලකුණු කොට නම් කරන්න.

(I) මල්වතු ඔය, කිරිදි ඔය , ගල් ඔය ජලාශය, මින්නේරිය වැව, මන්නාරම, ලංකාපටුන , දඹදෙණිය තිරුකේතීශ්වරම්, වික්ටෝරියා ජලාශය, එළිෆන්ට්පාස් , මීගමුව, ගාල්ල (ලකුණු.12)

(II) පර්සියන් බොක්ක , මක්කම, ජිනෝවා , කැලිකට් , ජාවා දූපත , දකුණු කොරියාව (ලකුණු.06)

(ආ) (i) පහත A, B, C, D යටතේ දක්වා ඇති ඓතිහාසික තොරතුරුවලට අදාළ පිළිතුරු අනුපිළිවෙළින් ඔබේ පිළිතුරු පත්‍රයේ ලියන්න.

A. - පොළොන්නරු රාජධානියේ ආරම්භක පාලකයා
B. - සීතාවක රාජසිංහ රජු උඩරට ආක්‍රමණය කරන අවධියෙහි එහි පාලකයා
C. - ලංකාවට ගොඩබට පළමු පෘතුගීසී ජාතිකයා
D. - වර්සෙල්ස් ගිවිසුම අත්සන් කරන ලද බ්‍රිතාන්‍ය අගමැතිවරයා (ලකුණු.04)

- A හා B යටතේ දක්වා ඇති පින්තූර අධ්‍යයනය කොට අසා ඇති ප්‍රශ්නවලට පිළිතුරු අනුපිළිවෙලින් ලියන්න.

(II)



1. මෙම ඡායාරූපය හඳුනාගෙන නම් කරන්න.
2. එය රචනා කරවා ඇත්තේ කවුරුන් විසින් ද?
3. මෙම අභිලේඛනය නිර්මිත මාධ්‍ය කුමක් ද?
4. මෙම මූලාශ්‍රය මගින් අනාවරණය කරගත හැකි තොරතුරක් නම් කරන්න?

(ලකුණු.04)

(III)



1. මෙම ඡායාරූපයෙන් දැක්වෙන පුද්ගලයා හඳුනාගෙන නම් කරන්න.
2. ඔහු දැරූ තනතුර හඳුන්වන නිල නාමය කුමක් ද?
3. ඔහු කුමන රටක පාලකයෙක් ද?
4. ඔහු පාලකයාව සිටි අවධියේ එරට ආක්‍රමණය කර අල්ලාගත් විදේශීය ජාතිය කවුරුන් ද? (ලකුණු.04)

II කොටස

2. (i) පුරා විද්‍යාත්මක මූලාශ්‍රයන් වර්ග කළ හැකි ආකාර **තුනක්** නම් කරන්න. (ලකුණු.03)

(ii) පහත A සිට D දක්වා දී ඇති එක් එක් ප්‍රශ්නයට අදාළ පිළිතුර වරහන් තුළින් තෝරා අනුපිළිවෙළින් ලියා දක්වන්න. (ලකුණු.04)

A. - බෞද්ධ රාජධානි පිළිබඳ විස්තරය නම් කෘතියේ කතුවරයා
B. - මෙරට පැරණි සංස්කෘතික උරුමයන් සොයා එළිදක්වන ලද විදේශිකයෙකි
C. - පොළොන්නරු යුගයේ භාවිතා කළ කාසි විශේෂයකි
D. - ලංකාවේ රචනා වූ මුල්ම සෙල්ලිපි විශේෂය

( ගිරි ලිපි , හෙන්රි පාකර්, පාහියන් , ලෙන් ලිපි, මධ්‍යකාලීන රන් කහවණුව , තඹ මස්ස )

(iii) ඉතිහාසය හැදෑරීමේ දී සාහිත්‍ය මූලාශ්‍රයවලින් ඇති ප්‍රයෝජන **දෙකක්** නම් කර විස්තර කරන්න. (ලකුණු.05)

(iv) පුරාවිද්‍යාත්මක මූලාශ්‍රයන් විනාශවීමට බලපාන මානව ක්‍රියාකාරකම් තුනක් කෙටියෙන් විස්තර කරන්න (ලකුණු.04)

3. (i) ශ්‍රී ලංකාවේ ප්‍රාග් ඓතිහාසික මානවයා වාසය කළ වියළි කලාපයට අයත් ලෙන් ජනාවාස **තුනක්** නම් කරන්න. (ලකුණු.03)

(ii) A._ ප්‍රාග් ඓතිහාසික මානවයා ජ්‍යාමිතික ක්ෂුද්‍ර ශිලා මෙවලම් තනා ගැනීමට භාවිතා කළ පාෂාණ වර්ග **දෙකක්** නම් කරන්න. (ලකුණු.02)

B – එම යුගයේ මානවයා අනුගමනය කළ අවමංගල අභිචාර විධි **දෙකක්** නම් කරන්න. (ලකුණු.02)

(iii) පූර්ව ඓතිහාසික යුගයේ මානවයා තාක්ෂණය භාවිතා කළ අවස්ථා **දෙකක්** නම් කර විස්තර කරන්න. (ලකුණු.05)

(iv) මුල් ඓතිහාසික යුගයේ ආර්ථික කටයුතුවල ප්‍රධාන අංශ **තුනක්** නම්කර මූලාශ්‍රය ගත තොරතුරු ඇසුරෙන් පැහැදිළි කරන්න. (ලකුණු.06)

4. (i) A – අතීතයේ දී ඇළ මාර්ග ඉදිකිරීමේ කටයුතුවල නිරත වූ නිළධාරියා
B - ලංකාවට වැඩම කළ මිහිඳු හිමියන් ඇතුළු ධර්ම දූතයන් වහන්සේලාට වැඩවාසය කිරීම සඳහා මුලින්ම පූජාකර ඇති ආරාම වර්ගය
C – ජල තරංග වලින් වැව් බැම්ම සේදී යාම වැළැක්වීම සඳහා කළ නිමැයුම
A,B,C පිළිවෙළින් සඳහන් කරන්න. (ලකුණු.03)

(ii) A – මල්වතු ඔය නිම්නයේ පිහිටි වැව් **දෙකක් ද**
B - මහවැළි ගංගා නිම්නයේ පිහිටි පැරණි වැව් **දෙකක්** ද ලියන්න. (ලකුණු.04)

(iii) අතීත ශ්‍රී ලාංකිකයා යකඩ නිස්සාරණය කළ බවට සාධක හමුවන ප්‍රදේශ **දෙකක්** නම් කර, එහි තාක්ෂණය කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු.05)

(iv) ශ්‍රී ලංකාවේ වැව් ඉදිකිරීමේ ක්‍රමික විකාශනයේ අදියර **තුනක්** දක්වා ඒවා කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු.06)

5.(i) විජයබා කොල්ලය නිසා කෝට්ටේ රාජ්‍ය බෙදීගිය **කොටස් තුන** නම් කරන්න. (ලකුණු.03)

(ii) පහත A සිට D දක්වා ඇති ප්‍රකාශවලට ගැළපෙන පිළිතුරු වරහන් තුළින් තෝරා, **අනුපිළිවෙළින්** දක්වන්න.

A. ක්‍රි.ව 1550 දී පෘතුගීසි වෙඩි පහරකින් මිය ගිය කෝට්ටේ පාලකයා

B. ක්‍රි.ව 1565 දී කෝට්ටේ නගරය අතහැර කොළඹ කොටුවේ පදිංචියට ගිය රජතුමා

C. ක්‍රි.ව 1594 දී උඩරට ආක්‍රමණය කළ පෘතුගීසි සේනාපති වරයා

D. ක්‍රි.ව 1619 දී යාපන රාජ්‍ය අල්ලා ගත් පෘතුගීසි සේනාපති වරයා (ලකුණු.04)

( මායාදුන්නේ, පිලිප් ද ඔලිවේරා , හත්වන බුවනෙකබාහු , පේරෝ ලොපෙස් ද සූසා ,ධර්මපාල)

(iii) පෘතුගීසි ජාතිකයන් උඩරට අල්ලාගැනීමට ගත් උත්සහයන් **අසාර්ථක** වීමට බලපෑ හේතු දෙකක් කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු.05)

(iv) සීතාවක රාජධානියේ බල වර්ධනයට බලපෑ හේතු දෙකක් හා එහි පිරිහිමට බලපෑ හේතුවක් කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු.06)

6. (i) අපනයනය ඉලක්ක කරගනිමින් ලංකාවට වතුවගාව හඳුන්වා දුන් **යුරෝපා ජාතිය** නම් කර, ඔවුන් ලංකාවේ වගා කරන ලද බෝග වර්ග **දෙකක්** නම් කරන්න. (ලකුණු.03)

(ii) ලංකාවේ වතු වගාවේ දියුණුවට බලපෑ කෝල්බෲක් ප්‍රතිසංස්කරණ **හතරක්** නම් කරන්න. (ලකුණු.04)

(iii) දීර්ඝ කාලයක් ලංකාව බ්‍රිතාන්‍යයේ යටත් විජිතයක්ව පැවතීම නිසා මෙරටට ඇති වූ අහිතකර බලපෑම් **දෙකක්** සැකෙවින් විස්තර කරන්න. (ලකුණු.05)

(iv) නිදහසින් පසු බිහි වූ රජයන් ශ්‍රී ලංකාවේ ව්‍යාපාරික කෘෂි කර්මාන්තය දියුණු කිරීම සඳහා ගත් පියවරයන් **තුනක්** දක්වා, ඒවා කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු.06)

7. (i) A- ද්විමණ්ඩල පාර්ලිමේන්තුව,

B- රාජ්‍ය මන්ත්‍රණ සභාව,

C- සමානුපාතික නියෝජන ක්‍රමය.

යන ප්‍රතිසංස්කරණයන් හඳුන්වා දුන් ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණයන් **පිළිවෙළින්** නම් කරන්න. (ලකුණු.03)

(ii) ක්‍රි.ව.1956 වසරේදී බලයට පත්වූ නව රජය මඟින් හඳුන්වා දුන් ප්‍රතිසංස්කරණ **හතරක්** නම් කරන්න. (ලකුණු.04)

(iii) ක්‍රි.ව 1972 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවේ කැපීපෙනෙන ලක්ෂණ දෙකක් නම්කර, කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු.05)

(iv) නිදහසින් පසු ලංකාවේ අධ්‍යාපන ක්ෂේත්‍රයේ දියුණුව සඳහා ගත් පියවරයන් තුනක් කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු.06)

*****

III කොටස

8. (i) A- පුනරුදය ඇතිවීමට බලපෑ , තුර්කිවරුන් අල්ලාගත් වෙළෙඳ නගරය,
B- පුනරුදය ආරම්භ වූ නගරය,
C- පුනරුදය නිසා දියුණුවට පත් වෙළෙඳ නගරයක්.
**පිළිවෙළින්** නම්කරන්න. (ලකුණු.03)

(ii) පුනරුද සමයේ පල්ලියේ ආධිපත්‍ය විවේචනය කළ පුද්ගලයන් **දෙදෙනෙකු** හා එකල බිහිවූ ගත් කතුවරුන් **දෙදෙනෙකු** නම් කරන්න. (ලකුණු.04)

(iii) පුනරුද සමයේ කලාත්මක ක්ෂේත්‍රයේ සිදු වූ වෙනස්කම් **දෙකක්** නම්කර, කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු.05)

(iv) පුනරුදය නිසා ලංකාවේ,
A- දේශපාලන
B- ආර්ථික හා
C- සමාජ සංස්කෘතික යන අංශවල සිදුවූ වෙනස්කම් **එක බැගින්** නම්කර, කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු.06)

9. (i) A - ඇමෙරිකාව හෙවත් නව ලෝකය සොයාගැනීමේ ගෞරවය හිමිවන **පුද්ගලයා** ද,
B – දකුණු ඇමෙරිකාව තුළ ජනපද පිහිටුවාගත් යුරෝපා ජාතීන් **දෙකක්** ද,
A,B අනුපිළිවෙළින් ලියා දක්වන්න. (ලකුණු.03)

(ii) ඇමෙරිකන් නිදහස් සටන ඇතිවීමට බලපෑ හේතු **දෙකක්** ද?
ඇමෙරිකන් නිදහස් සටනේ ප්‍රතිඵල **දෙකක්** ද. නම් කරන්න. (ලකුණු.04)

(iii) ප්‍රංශ විප්ලවය ඇතිවීමට බලපෑ දේශපාලනමය **හේතුවක්** හා සමාජමය **හේතුවක්** නම් කර සැකෙවින් විස්තර කරන්න. (ලකුණු.05)

(iv) ප්‍රංශ විප්ලවය හා රුසියානු විප්ලවය තුළ දැකිය හැකි පොදු ලක්ෂණ **තුනක්** නම්කර විස්තර කරන්න. (ලකුණු.06)

*****

ET/SSS/2022(2023)/OL/33/S/A/S-1

අධ්‍යාපන අමාත්‍යාංශය
கல்வி அமைச்சு
Ministry of Education

G. C. E. Ordinary Level | අ. පො. ස. සාමාන්‍ය පෙළ | 2022 (2023)

# Student Seminar Series

# ශිෂ්‍ය සම්මන්ත්‍රණ මාලාව

Practice Paper | උපකාරක ප්‍රශ්න පත්‍ර

# History

# ඉතිහාසය



**Answer Sheet - I, II | පිළිතුරු පත්‍රය - I, II (සිංහල මාධ්‍යය)**

Nenasa

The National e-learning Portal for The General Education

දුරස්ථ අධ්‍යාපන ප්‍රවර්ධන ශාඛාව | ජාතික භාෂා හා මානව ශාස්ත්‍ර ශාඛාව

# පිළිතුරු පත්‍රය - I පත්‍රය

| ප්‍රශ්න අංකය | පිළිතුරු අංකය | ප්‍රශ්න අංකය | පිළිතුරු අංකය | ප්‍රශ්න අංකය | පිළිතුරු අංකය | ප්‍රශ්න අංකය | පිළිතුරු අංකය |
|---|---|---|---|---|---|---|---|
| 01 | 3 | 11 | 4 | 21 | 4 | 31 | 2 |
| 02 | 1 | 12 | 4 | 22 | 2 | 32 | 3 |
| 03 | 4 | 13 | 1 | 23 | 3 | 33 | 4 |
| 04 | 3 | 14 | 3 | 24 | 4 | 34 | 3 |
| 05 | 2 | 15 | 1 | 25 | 1 | 35 | 4 |
| 06 | 3 | 16 | 3 | 26 | 2 | 36 | 2 |
| 07 | 2 | 17 | 2 | 27 | 3 | 37 | 3 |
| 08 | 2 | 18 | 2 | 28 | 3 | 38 | 1 |
| 09 | 1 | 19 | 4 | 29 | 2 | 39 | 4 |
| 10 | 2 | 20 | 4 | 30 | 1 | 40 | 3 |

**(01) (අ)**

I.


එළිෆන්ට්පාස්ට්
මන්නාරම
තිරුකේතීස්වරම්
මල්වතු ඔය
ලංකාපටුන
මින්නේරිය වැව
වික්ටෝරියා
දඹදෙණිය
මීගමුව
ගල් ඔය ජලාශය
කිරිඳි ඔය
ගාල්ල

II.


ජිනෝවා
පර්සියන් බොක්ක
දකුණු කොරියාව
මක්කම
අප්‍රිකාව
Africa
කැලිකට්
ඉන්දියන් සාගරය
Indian Ocean
N
ජාවා

**(ආ) (II)**

A. - පළමුවන විජයබාහු රජතුමා
B. - කරලියද්දේ බංඩාර
C. - ලොරෙන්සෝ ද අල්මේදා
D. - ලොයිඩ් ජෝර්ජ්

**(III)**

1. පනාකඩුව සන්නස
2. පළමු වැනි විජයබාහු රජතුමා
3. තඹ
4. විජයබාහු රජතුමාට කුඩා අවධියේ රැකවරණය ලබා දුන් සිත්නාරු බිම් බුදල්නාවන් හෙවත් බුද්ධරාජයන්ට ලබා දුන් දීමනාවක් පිළිබඳ තොරතුරු

**(Iv)**

1. ඔරේන්ජ් හි පස්වන විලියම් රජතුමා
2. ස්ටැඩ්හෝල්ඩර්
3. ඕලන්දය
4. ප්‍රංශ ජාතිකයන්

II කොටස

**(2)**

I. අභිලේඛණ, කාසි, නටඹුන් ,චිත්‍ර මූර්ති කැටයම් , පුරාවස්තු

II. A.පාහියන්
B.හෙන්රි පාකර්
C.තඹ මස්ස
D.ලෙන් ලිපි

III.

1 ඓතිහාසික කාල අනුපිළිවෙළ සකස් කර ගැනීමට
2 එක් එක් අවධිවල දේශපාලන, ආර්ථික සමාජ සංස්කෘතික කටයුතු පිළිබඳ තොරතුරු ලබා ගැනීමට
3 එක් මූලාශ්‍රයක් මගින් ලැබෙන තොරතුරු තවත් මූලාශ්‍රයක් මගින් සනාථ කර ගැනීමට
4 රටක විදේශීය සබඳතා අධ්‍යයනය කිරීමට (විදේශීය සාහිත්‍ය මූලාශ්‍රය මෙහි දී විශේෂයෙන් වැදගත් වේ)

IV.

ශීඝ්‍ර නාගරික ජනාවාස ව්‍යාප්තිය, මංමාවත් තැනවීම, ගොඩනැගිලි ඉදිකිරීම, කෘෂිකාර්මික කටයුතු, වස්තුව සොයා සිදුකරණ කැනීම්, සිතාමතා සිදුකරන විනාශයන් වැනි

**(3)**

I. පොතාන , අලිගල , පිදුරංගල වැනි

II. (A) තිරිවානා හෙවත් බිම් විදුරු , කහද
(B) සිරුර නවා වකුටු කර වළ දැමීම , මළ සිරුර ලෙනෙන් පිටත වළ දමා ඇටසැකිල්ල ගොඩ ගෙන ලෙන තුළ වළ දැමීම, හිස් කබලේ ඉදිරියට නෙරා ආ කොටස් ගලක උලා ඔප මට්ටම් කිරීම, හිස්කබල දෙකට බෙදෙන සේ සිදුරු විදීම

III. සුසාන ක්‍රම ඉදිකර ගැනීමේ දී, නිවාස ඉදිකර ගැනීමේ දී , මැටිබඳුන් නිපදවීමේ දී , යකඩ මෙවළම් ඉදිකිරීමේ දී

IV. මුල් ඓති හාසික යුගයේ ආර්ථිකය




**(4)**

I. (A) අඩික
(B) ලෙන් විහාර
(C) රළපනාව , සළපනාව , රළපැන්නුම

II. (A) යෝධ වැව, නාච්චදූව , තිසා වැව , බසවක්කළම වැව , මහ කනදරා වැව
(B) පරාක්‍රම සමුද්‍රය, මින්නේරිය , සොරබොර වැව , ගිරිතලේ

III. බලන්ගොඩ සමනළ වැව ප්‍රදේශය - ස්වභාවික සුළං බලය
සීගිරිය දෙහිගහ ඇළ කන්ද අළකොළවැව ප්‍රදේශය - මයිනහමක් මගින් කෘතීමව නිපදවාගත් සුළං බලය
මරං ගසේ අඟුරු භාවිතය, ලිමොනයිට් සහ හෙමටයිට් වැනි පාෂාණ වර්ග භාවිතය

IV. ගම් වැව් - ගම්ක වර්ෂා ජලය ගබඩා කර ගැනීම සඳහා
ගම් වැව් පද්ධති - පරුමක- ජල සංරක්ෂණය, පසේ තෙතමනය ආරක්ෂා කිරීම
කුඩා වැව් - වැව් තැනීම සඳහා පණ්ඩුකාභය රජතුමා පළමු වරට රාජ්‍ය අනුග්‍රහය ලබා දීම
වසභ රජතුමා - මහා පරිමාණ වැව් නිර්මාණය
මහසෙන් / පරාක්‍රමබාහු - සාගරය බඳු වැව් ඉදිකිරීම

**(5)**

I. කෝට්ටේ , රයිගම , සීතාවක

II. (A) හත්වන බුවනෙකබාහු රජතුමා
(B) ධර්මපාල රජතුමා
(C) පේරෝ ලොපේස් ද සූසා
(D) පිලිප් ද ඔලිවේරා

III. උඩරැටියන්ගේ රාජපාක්ෂික භාවය, ස්වභාවික රැකවරණය , ගරිල්ලා සටන් ක්‍රම භාවිතය , රජවරුන්ගේ යුධ උපක්‍රම
පෘතුග්‍රීසින් යටතේ වැඩකළ කුළී හේවායන් සටන අතරතුර උඩරට හමුදාවට එක් වීම.

IV. රාජධානියේ වර්ධනය- ප්‍රබල පාලකයින් බලයට පත්වීම ( මායාදුන්නේ / සීතාවක රාජසිංහ ), මහනුවර රාජ්‍ය ඇදාගැනීම
රයිගම් බණ්ඩාරගේ මරණයෙන් පසු රයිගම ඈඳා ගැනීම
පරිහානියට හේතු - රාජසිංහ රජුගේ බෞද්ධ විරෝධී ක්‍රියාකලාපය , රාජසිංහ රජු උරුම කරුවෙකු නොලබා මියයාම.
පළමු විමලධමසූරිය රජතුමා උඩරට බලය අල්ලා ගැනීම..

**(6)**

I. ලන්දේසීන් - කුරුඳු හා ගම්මිරිස්

II. ඉඩම් විකිනීමේ ප්‍රතිපත්තිය , සිවිල් නිලධාරින්ට වතු වගාවට අවසර දීම, අනිවාර්ය සේවා රාජකාරි ශ්‍රම ක්‍රමය අහෝසි කිරීම
වෙළෙඳාම සම්බන්ධයෙන් පැවති රජයේ ඒකාධිකාරය අහෝසි කිරීම, වක්‍ර බදු අයකිරීම, සියලු ඉඩම්වලින් සමාන බද්දක්
මුදලින් අය කිරීම, ඉතිරි කිරීමේ බැංකුවක් පිහිටුවීමට යෝජනා කිරීම.

III. බටහිර සංස්කෘතික අංග රට තුළ පැතිරීම හා සාම්ප්‍රදායික සංස්කෘතික ලක්ෂණවල යම් පිරිහීමක් ඇති වීම,
මද්‍යසාර භාවිතය රට පුරා ව්‍යාප්ත වීම,
ඉඩම් අහිමි ජනතාවක් බිහි වීම,
සාම්ප්‍රදායික ස්වයංපෝෂිත අර්ථ ක්‍රමය බිඳ වැටීම හා දේශීය දැනුම බොහෝ සෙයින් අභාවයට යාම,
ගම් සභා වැනි ප්‍රයෝජනවත් ආයතන විනාශ වීම.

IV. 1972 ඉඩම් ප්‍රතිසංස්කරණ නීතිය, රාජ්‍ය අංශය සතු වූ ඉඩම් කළමණාකරණය සඳහා ආයතන කිහිපයක් පිහිටුවීම
ද්විපාර්ශ්වික ගිවිසුම් , වගා කිරීම සඳහා ඉඩම් හිමියන්ට ආධාර ලබා දීම.

**(7)**

I. A- සෝල්බරි ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණය
B- ඩොනමෝර් ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණය
C- 1978

II. සිංහල භාෂාව රාජ්‍ය භාෂාව බවට පත් කිරීම
බ්‍රිතාන්‍යය සමඟ 1947 අත්සන් කොට තිබූ ආරක්ෂක හා බාහිර කටයුතු පිළිබඳ ගිවිසුම් අහෝසි කිරීම
ලෝකයේ බල කඳවුරුවලට නො බැඳුණු මධ්‍යස්ථ විදේශ ප්‍රතිපත්තියක් අනුගමනය කිරීම
වරාය හා බස් ජනසතු කිරීම ප්‍රමුඛ ජනසතු ව්‍යාපාර
දේශීය කර්මාන්ත හා කෘෂිකර්මය දියුණු කිරීමට කටයුතු කිරීම
උසස් අධ්‍යාපනයේ උන්නතිය සඳහා විද්‍යෝදය හා විද්‍යාලංකාර පිරිවෙන් විශ්වවිද්‍යාල බවට පත් කිරීම

III. එතෙක් ලංකාව යනුවෙන් හැඳින්වූ මෙරට ශ්‍රී ලංකාව යන නාමයෙන් හැඳින්වීම
බ්‍රිතාන්‍ය අධිරාජ්‍ය සමඟ පැවති ව්‍යවස්ථානුකූල බැඳීම් අවසන් කිරීම
ශ්‍රී ලංකාව ඒකීය ජනරජයක් බව පිළිගැනීම ,ජනතාවගේ මූලික මිනිස් අයිතිවාසිකම් සුරක්ෂිත කිරීම
අග්‍රාණ්ඩුකාරධූරය අහෝසි කර ජනාධිපති ධූරය හඳුන්වා දීම, ජාතික රාජ්‍යසභාව හඳුන්වා දීම

IV. නිදහස් අධ්‍යාපන ප්‍රතිපත්තිය
රජය පාසල් පිහිටුවීම හා අධ්‍යාපන ව්‍යාප්තියට මුදල් යෙදවීම
නිසා රට පුරා පාසල් සංඛ්‍යාව ඉහළ යාම., විෂයමාලා සංවර්ධනය හා ගුරු පුහුණු කටයුතු නවීකරණය වීම.
විද්‍යාගාර පහසුකම් හා පාසල් පුස්තකාල පහසුකම් ව්‍යාප්ත වීම.
දිවා ආහාරය, පාසල් පොත්, වෛද්‍ය හා දන්ත වෛද්‍ය සේවා සහ පාසල් නිල
ඇඳුම් ආදිය නොමිලයේ ලබා දීමත් ,සහනදායී ගමනාගමන පහසුකම් ලබා දීමත්
මඟින් ශිෂ්‍ය ශුභසාධන සේවා හා උපකාරක කටයුතු වැඩි දියුණු කිරීම.
අධ්‍යාපන පරිපාලන රටාව කාලයට ගැළපෙන ලෙස වෙනස් කිරීම.
වෘත්තීය අධ්‍යාපන ආයතන පිහිටුවමින් එකී අධ්‍යාපන කටයුතු පුළුල් කිරීම.
නව විශ්වවිද්‍යාල පිහිටුවමින් උසස් අධ්‍යාපන කටයුතු වැඩි දියුණු කිරීම.
1942 වර්ෂයේ දී ලංකා විශ්වවිද්‍යාලය කොළඹ පිහිටුවීම.
1952 වර්ෂයේ දී ලංකා විශ්වවිද්‍යාලය පේරාදෙණියට ගෙන යාම

## III කොටස

**(8)**

I. A- කොන්ස්තන්තිනෝපල් / ස්ථාම්බූල් / බයිසැන්ටයින් නගරය

B- ප්ලොරන්ස්

C- වැනීසිය/ජිනෝවා

II. ජෝන් වයික්ලිප්, බොහිමියාවේ ජෝන් හස්, ප්‍රංශයේ ,ඉරාස්මස් හා ජර්මනියේ මාටින් ලූතර්

කතුවරු - ඉතාලියේ ඩාන්ටේ, පෙට්රාක්, බොකැෂියෝ, එංගලන්තයේ සර් තෝමස් මුවර්, ප්‍රැන්සිස් බේකන් හා විලියම්

I. ෂෙක්ස්පියර් ප්‍රංශයේ ඉරාස්මස්

II. කලාකරුවන්ට තම ශක්තියට අනුව ස්වාධීන ව නිර්මාණ කිරීම/ කලාකරුවන්ට අනුග්‍රහ දැක්වීමට ලෞකික රස වින්දනය අගය කරන ධනවතුන් පිරිසක් ඉදිරිපත් වීම. එතෙක් ශ්‍රේණිවල නමින් හැඳින්වූ කලා කෘති ඒවා නිර්මාණය කළ කතෘන්ගේ නමින් එළි දැක්වීම, පෞද්ගලිකත්වය ඉස්මතු කෙරෙන ලෞකික රස වින්දනයට මුල් තැන දීම.

III. දේශපාලන - පාර්ලිමේන්තු ආණ්ඩු ක්‍රමය, අධිකාරම්වරු, දිසාවෙවරුන්, මොහොට්ටාලවරු, හා කෝරාළවරුන් වැනි සාම්ප්‍රදායික නිලධාරි පන්තිය වෙනුවට අලුත් පාලන ක්‍රමයට ගැළපෙන නව නිලධාරි පන්තියක් මෙන් ම පරිපාලන ආයතන පද්ධතියක් බිහිවීම, රෝම ලන්දේසි නීතිය හඳුන්වා දීම.

ආර්ථික - වාණිජ ආර්ථික රටාවකට හුරුවීම, ග්‍රාමීය ස්වයංපෝෂිත අර්ථ ක්‍රමය බිඳවැටීම , ලංකාවේ ආනයන අපනයන ආර්ථිකයක් බිහිවීම, මුදල් භාවිතය ප්‍රචලිත වීම, දුම්රිය මාර්ග හා මහා මාර්ග පද්ධතියක් ඇති වීම. කොළඹ, ගාල්ල, ත්‍රිකුණාමලය වැනි වෙළෙඳ නගර බිහි වීම සහ නව ධනෝපායන මාර්ගවලින් මුදල් උපයා ගත් මධ්‍යම පන්තියක් බිහි වීම

සමාජ සංස්කෘතික - මුද්‍රණ කර්මාන්තයේ දියුණුවත් සමග පොත්පත්, සඟරා හා පුවත්පත් ආදිය ප්‍රකාශයට පත් වීම නිසා සමාජයේ දැනුම්වත් භාවය ඉහළ යාම, ලාංකිකයන් යුරෝපා රටවලට ගොස් අධ්‍යාපනය ලබා මෙරටට පැමිණීමත් බටහිර චින්තනය මෙරටට දායාද වීම, පෘතුගීසි ජාතිකයෝ මෙරට මුහුදුබඩ ප්‍රදේශවල රෝමානු කතෝලික ආගම ව්‍යාප්ත කිරීම,ලන්දේසීන් රෙපරමාදු භක්තිය ව්‍යාප්ත කිරීම , බටහිර අධ්‍යාපන ක්‍රමය මෙරට ප්‍රචලිත වීම, යුරෝපයේ පැවති වාස්තු විද්‍යාව මෙරටට දායාද වීම.

**(9)**

I. A- ඇමරිගෝ වෙස්පුචි

B- ස්පාඤ්ඤවරුන් , පෘතුගීසීන්

II. හේතු - ඇමෙරිකන් ජනපදවාසීන් කාලයක් තිස්සේ බ්‍රිතාන්‍යය මැදිහත්වීම අඩු වශයෙන් පැවති පාලනයකට හුරු වී සිටීම බ්‍රිතාන්‍යය අනුගමනය කළ තම රටට වාසි දයක ආර්ථික ප්‍රතිපත්තිය, ජනපදවාසීන්ගේ සිතුම් පැතුම් හා ආකල්ප බ්‍රිතාන්‍ය පාලකයන් විසින් නිසි ලෙස අවබෝධ කරගෙන නො සිටීම, **1763**න් පසුව පැනවූ අණ පනත් හා නව බදු වර්ග , ජනපදවාසීන්ගේ සාධාරණ සටන් මර්දනය කිරීමට බ්‍රිතාන්‍යය කටයුතු කිරීම ,නිදහස පිළිබඳ ජනපද වැසියන් තුළ ඇති වූ උනන්දුව

ප්‍රතිඵල - ඇමෙරිකා එක්සත් ජනපදය නම් ස්වාධීන රාජ්‍යය බිහි වීම.

සමස්ත මානව සංහතියට ම නිදහසේ අගය පෙන්වා දුන් අවස්ථාවක් වීම

මූලික මිනිස් අයිතිවාසිකම් පිළිබඳ ලොව පුරා උනන්දුවක් ඇති වීම.

ලෝකයේ ප්‍රථම ලිඛිත සන්ධිය ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාව බිහි වීම.

III. දේශපාලන- රාජාණ්ඩු ක්‍රමය යටතේ ක්‍රියාත්මක වූ දූෂිත පාලනය , රජු ගත කළ අධි සුඛෝපභෝගී ජීවිතය , පොදු ජනතාව හා රජු අතර සබඳතාව දුරස් වීම , රදලයන් අත පැවති ප්‍රදේශීය පාලනය අතිශයින් ම අකාර්යක්ෂම වීම, රජුගේ ඒකාධිපති බලතලවලට හා රාජාණ්ඩුවේ පාලනයට විරුද්ධවීමට හෝ තම දුක් ගැනවිලි පැවසීමට හෝ අවස්ථාවක් මහජනතාවට නො වීම.

සමාජ - පූජකවරු හා රදලයෝ ප්‍රංශ සමාජයේ වරප්‍රසාද බුක්තිවිඳීම හා සමාන්‍ය ජනතාව දුක්ඛිත ජීවිතයක් ගත කිරීම, මධ්‍යම පන්තියට දේශපාලන බලතල හිමි නොවීම, ප්‍රංශ සමාජයේ ධනයෙන් හා උගත්කමින් ඉදිරියෙන් සිටි පිරිස වූ මධ්‍යම පන්තිය ට සමාජයේ තැනක් ඔවුනට හිමි නොවීම, ගොවියන්ට රදලයන් වෙත අසාධාරණ ලෙස බොහෝ බදු ගෙවීමට සිදු වීම,

IV. රාජාණ්ඩු පාලනයට විරුද්ධව ජනතාව නැගී සිටීම , රාජාණ්ඩු බෙහෙවින්ම දූෂිත වීම, පාලකයන් හා ජනතාව පල්ලියේ හා රදළවරුන්ගේ ග්‍රහණයට නතුව සිටීම, ජනතාව පීඩාවට පත් කළ බදු වර්ග, ජනතාවගේ ආර්ථික හා සමාජීය ප්‍රශ්න විසඳීමෙහි ලා උනන්දු නොවීම.

*****